# බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2014 (2015)

## (02) බෞද්ධ විනය මාර්ගය හා පාලි භාෂා පරිචය

කාලය පැ. 3 යි.

( I කොටසේ ප්‍රශ්න සියල්ලටම පිළිතුරු සපයන්න.)

I කොටස

(i) සිට (vii) තෙක් එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර වරහන තුළින් තෝරා යටින් ඉරක් අඳින්න.

01. i. අ) පුරාණ භාරතීය ජනතාව යාග හෝම ඇතුළත් යාතු කර්ම සිදුකරන ලද්දේ (ඍෂිවරුන්ගේ / බ්‍රාහ්මණයන්ගේ) අනුශාසනා අනුවයි.

ආ) උපනිෂද් සාහිත්‍යය තුළින් අනාවරණය වන්නේ ක්‍රමයෙන් (ක්ෂත්‍රිය බලය / බ්‍රාහ්මණ බලය ) නැගී සිටින ආකාරයයි.

ii. අ) විනය නීති පැනවීමේ දී (මහජන උද්ඝෝෂණ / භික්ෂු පිරිස වර්ධනය වීම ) පිළිබඳව බුදුරජාණන් වහන්සේ සලකා බැලූහ.

ආ) වස් සමාදන් වූ භික්ෂුවකට (ශාසනික අවශ්‍යතාවයක් / ජාතික කාර්යයක් ) සඳහා සත් දිනක් තුළ ආපසු පැමිණීමේ අධිෂ්ඨානයෙන් වස් විසූ විහාරස්ථානයෙන් නික්ම යා හැකිය.

iii. අ) ප්‍රාතිමෝක්ෂයේ සඳහන් සේඛියා (ආපත්ති නාමයෙන් / පුරුදු පුහුණු කළ යුතු ගුණධර්ම ලෙසින් ) දක්වා ඇත.

ආ) ශිෂ්‍යයා පැවිදි උපසම්පදා භූමියට පත්කරන භික්ෂුවක උපසම්පදාවෙන් (දස වසක් / පස් වසක් ) සම්පූර්ණකොට සිටිය යුතු බව විනයෙහි දක්වා ඇත.

iv. අ) තමාටම අයත් (කුටියක් / පාත්‍රයක්) නොමැති භික්ෂුව උපසම්පදා කරනු නොලැබේ.

ආ) භික්ෂුවක " නිස සමාදන්වීම " යන්, (සියලු කල්හිම ගුරුවරයා ඇසුරෙහි ජීවත්වීමයි / හුදෙකලාව විහාරයේ වාසය කිරීමයි)

v. අ) සතර සංග්‍රහ වස්තුවල " අර්ථචර්යාව" නමින් සඳහන් වන්නේ (දැහැමිව ධනය ඉපයීමයි / අනුන්ගේ හිත සුව පිණිස ක්‍රියා කිරීමයි)

ආ) ධර්මයට අප්‍රිය වීම මෙලොව පරලොව දෙකෙහිම පිරිහීමට හේතුවන බව (පරාභව / මංගල) සූත්‍රයෙහි සඳහන් වෙයි.

vi. අ) " පංච කාමයන්හි ආශාව දුරලිය යුතුය". යන්න ධම්මික සූත්‍රයෙහි දැක්වෙන (අනගාරික / අගාරික) ප්‍රතිපදාවට අයත් කරුණකි.

ආ) ව්‍යග්ඝපජ්ජ සූත්‍රයෙහි දැක්වෙන "සද්ධාසම්පදා" යන්නෙහි අදහස් වන්නේ, (මෙලොව පරලොව පිළිබඳව / තථාගතයන් වහන්සේගේ බුද්ධත්වය පිළිබඳව) විශ්වාස කිරීමයි.

vii. අ) " යහළුවෙනි, පෙර අසවල් තැන මහා නුග ගසක් විය මම එහි ගෙඩි කා මෙතැන වසුරු දැමීමි". තිත්තිර ජාතකයෙහි සඳහන්වන මෙම ප්‍රකාශය කරන ලද්දේ (වඳුරා / වටුවා) විසිනි.

ආ) බ්‍රහ්මදත්ත රජු බෝසත් ඇත් රජු මුදාහරින ලද්දේ (ගොදුරු නොගන්නා / මව පෝෂණය කරන) බැවින් ය'යි මාතුපෝසක ජාතක කථාවෙන් පෙනෙයි.

viii. සිංහලයට නඟන්න.

අ) " පලේති රසමාදාය - ඒවංගාමේ මුනී චරේ "

....................................................................................................................................

....................................................................................................................................

ආ) " බහුං වෙ සරණං යන්ති - පබ්බතානි වනානි ච"

....................................................................................................................................

....................................................................................................................................

ix. පහත සඳහන් අදහස් ඇති ධම්මපද ගාථා ලියන්න.

අ) " අසවලා මට බැණ වැදුණේය, මට ගැසීය, මා පැරදවීය, මා සතු දේ පැහැර ගත්තේය. යි" සිතමින් යම් කෙනෙක් නැවත නැවත වෛර නොබඳිත් ද ඔවුන්ගේ ඒ වෛරය සංසිඳේ.

.......................................................................................................................................

.......................................................................................................................................

.......................................................................................................................................

.......................................................................................................................................

ආ) යම් සේ බඹරා මලත්, එහි පැහැය හා සුවඳත්, නොනසා රොන් ගෙන නැගීයේ ද එමෙන්ම මුනිවරයා (භික්ෂුව) (දායකයන්ගේ ශ්‍රද්ධාවටත් භෝගයන්ටත් හානි නොකොට) ගමෙහි පිඬුසිඟා හැසිරෙයි.

.......................................................................................................................................

.......................................................................................................................................

.......................................................................................................................................

.......................................................................................................................................

x. " අ " කොටසේ යෙදුමට ගැළපෙන යෙදුම "ආ" කොටසෙන් තෝරා හිස්තැන් තුළ ලියන්න.

| "අ" | | "ආ" |
|---|---|---|
| බ්‍රහ්මචාරී | ..................................................... | උගත්කම |
| තම්බදාඨික | ..................................................... | බරණැස් නුවර |
| තිණවත්ථාරක | ..................................................... | ද්‍රව්‍ය ඉල්ලා කුටි සෑදීම |
| බහුශ්‍රැත | ..................................................... | අධිකරණ සමථයකි |
| බ්‍රහ්මදත්ත | ..................................................... | සොරුන් මැරීම |
| අළවි වැසි භික්ෂූන් | ..................................................... | ආශ්‍රම ධර්මයකි. |

* * *

# 2559 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2014 (2015)

## (02) බෞද්ධ විනය මාර්ගය හා පාලි භාෂා පරිචය

**S 2**

(ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) 'පාතිමොක්ඛ' යන්නට එක් නිර්වචනයක් ලියන්න. *(ලකුණු 04 යි)*

(ii) පාරාජිකා ආපත්ති ලොකවද්‍ය (ශිෂ්ට සමාජය පිළිකුල් කරන) කරුණු ලෙස දැක්වීමට හේතු කවරේද'යි දක්වන්න. *(ලකුණු 06 යි)*

(iii) "විනය වනාහි ශාසනයේ ආයුෂය වේ." පුරාණ ආචාර්යවරුන්ගේ මෙම ප්‍රකාශය පහදා දෙන්න. *(ලකුණු 08 යි)*

3. (i) ධම්මික සූත්‍රයේ දැක්වෙන ධම්මික උපාසකතුමා භාග්‍යවතුන් වහන්සේ වෙත පැමිණ විමසූ කරුණු ලියන්න. *(ලකුණු 04 යි)*

(ii) එම සූත්‍රයෙහි සඳහන් ගිහි ප්‍රතිපදාවට අයත් පන්සිල් සමාජ සංවර්ධනයට බලපාන්නේ කවර ආකාරයෙන් දැයි කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

(iii) මේ සූත්‍රයෙහි දක්වා ඇති උපොසථ සීලය පහදා දෙන්න. *(ලකුණු 08 යි)*

4. (i) සිගාලෝවාද සූත්‍රයෙහි දැක්වෙන අන්දමට මිත්‍රයන් හා මිත්‍ර ප්‍රතිරූපකයන් අතරින් පාප මිත්‍රයන් දෙදෙනෙකු හා කල්‍යාණ මිත්‍රයන් දෙදෙනෙකු ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*

(ii) "ඇසුරට සුදුසු පුද්ගලයෙකු නොවේ නම් හුදෙකලාව විසීම වඩා සුදුසු" බව ධර්මයේ සඳහන් වේ. මෙම අදහස විමසන්න. *(ලකුණු 06 යි)*

(iii) ඔබ ඇසුරු කරන කල්‍යාණ මිත්‍රයෙකු තුළින් ඔබ ලබාගත් අත්දැකීම් පහදා දෙන්න. *(ලකුණු 08 යි)*

5. (i) සිංහලට නගන්න.

(අ) පූජේමි බුද්ධං කුසුමෙනනෙන
(ආ) චත්තාරො මෙ ව්‍යග්ඝපජ්ජ ධම්මා සංවත්තන්ති
(ඉ) පරාභවන්තං පුරිසං - මයං පුච්ඡාම ගොතම
(ඊ) ඉති'පි සො භගවා සම්මා සම්බුද්ධො හොති
(උ) සුසුඛං වත ජීවාම - වෙරිනේසු අවෙරිනො

*(ලකුණු 08 යි)*

(ii) මෙම වාක්‍ය පාලියට නගන්න.

(අ) මෙම දානය භික්ෂු සංඝයාට දෙමු.
(ආ) සියලු සත්වයෝ සුවපත් වෙත්වා.
(ඉ) ඒකාන්තයෙන්ම සියලු සංස්කාර අනිත්‍යයයි.
(ඊ) වෛරයෙන් වෛරය නො සංසිඳෙයි.
(උ) මව ද පියා ද පුතා ද විහාරයට ගොස් බුදුන් වඳිති.

*(ලකුණු 10 යි)*

6. (i) මෙම පාඨය සිංහලට නගන්න.

"ථෙරො සෙනාසනං අලභන්තො සත්ථු සේනාසනස්ස අවිදූරෙ එකස්මිං රුක්ඛමූලෙ නිසජ්ජාය ච චඞ්කමෙන ච වීතිනාමෙසි. සත්ථා පච්චූසසමයෙ නික්ඛමිත්වා උක්කාසි. ථෙරොපි උක්කාසි කො එසොති? අහං භන්තෙ සාරිපුත්තොති. සාරිපුත්ත, ඉමාය වේලාය ඉධ කිං කරොසීති? සො තං පවත්තිං ආරොචෙසි." *(ලකුණු 08 යි)*

(ii) 'තිත්තිර බ්‍රහ්මචරිය' තිත්තිර ජාතකය ඇසුරින් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

7. (i) මෙම පාඨය සිංහලට නගන්න.

"එවං භික්ඛවෙ සත්තරතනං පරිපුණ්ණ නාගභවනෙ වසන්තානං නාගානම්පි යාචනා අමනාපා කිමඞ්ගපන මනුස්සානං" ති ඉමං ධම්ම දෙසනං ආහරිත්වා ජාතකං සමොධානෙසි. *(ලකුණු 08 යි)*

(ii) තවුසාගේ ඉල්ලීම නිසා නාග රාජයා තවුසා අතහැරයාම දැක්වෙන මණිකණ්ඨ ජාතක කථාව තුළින් උගත හැකි ආදර්ශය කුමක් දැයි පහදා දෙන්න. *(ලකුණු 10 යි)*

❊ ❊ ❊